8594



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

පළාත් රාජ්‍ය කළමනාකරණ සහකාර සේවයේ III වැනි පන්තියට බඳවා ගැනීමේ විවෘත තරග විභාගය - 2013 (උතුරු මැද / සබරගමුව)

**(01) භාෂා හැකියාව** පැ. එකයි මිනිත්තු තිහයි

## විභාග අපේක්ෂකයින්ට උපදෙස්

**ඉතා වැදගත් :**




※ ***පිළිතුරු සැපයීමේ දී පහත සඳහන් ආකාරයට ඉලක්කම් ලියා නැති උත්තර පත්‍ර ඇගයීමට ලක් නොකෙරේ.***

**1 2 3 4**

ඔබේ විභාග අංකය මෙහි ඇති තිත් ඉර මත ලියන්න.

.....................................

නිවැරදි බවට නිරීක්ෂකගේ කෙටි අත්සන

.....................................

**වැදගත් :**

※ මෙම ප්‍රශ්න පත්‍රය කොටස් දෙකකින් සමන්විතය. I කොටස ප්‍රශ්න 45 කින් යුක්ත වන අතර II කොටස ප්‍රශ්න 02 කින් යුක්ත වේ.

※ ප්‍රශ්න **සියල්ලට ම** පිළිතුරු **මෙම පත්‍රයේ ම** සපයන්න.

※ මෙම ප්‍රශ්න පත්‍රයට නියමිත කාලය **පැය එකයි මිනිත්තු තිහයි.**

※ ශාලාධිපතිවරයා නිවේදනය කළ පසු පිළිතුරු ලිවීම ආරම්භ කරන්න.

※ **දී ඇති උපදෙස් අනුව ම ප්‍රශ්නවලට පිළිතුරු සැපයිය යුතු වන අතර උපදෙස්වලට පටහැනිව සපයන පිළිතුරු සඳහා ලකුණු දෙනු නොලැබේ.**

※ ඔබට සැපයීමට පිළිතුරු නැතත් මෙම පිළිතුරු පත ශාලාධිපතිට භාර දිය යුතු ය.

※ ඔබේ පිළිතුරු පැහැදිලි ලෙස **නිල්** හෝ **කළු** පෑනෙන් පමණක් ලියන්න. **පැන්සල් පාවිච්චි නොකරන්න.**

※ මෙම ප්‍රශ්න පත්‍රය විභාග ශාලාවෙන් පිටතට ගෙන යාම හෝ එහි ඡායා පිටපත් ගැනීම හෝ වරදකි.

※ **අපැහැදිලි ඉලක්කම්, අපැහැදිලි අත් අකුරු සහිත, මකන දියර භාවිත කරන ලද සහ පැන්සලෙන් පිළිතුරු සපයන ලද පිළිතුරු පත්‍ර ඇගයීමට ලක් නොකෙරේ.**

**පරීක්ෂකගේ ප්‍රයෝජනය සඳහා පමණි**

| කොටස | පිටුව | ප්‍රශ්න අංකය | ලැබූ ලකුණු |
|---|---|---|---|
| I | 2 | 1 - 20 | |
| | 3 | 21 - 40 | |
| | 4 | 41 - 45 | |
| II | 4 | 1(i - v) | |
| | 5 | 1(vi - viii) | |
| | 6 | 2 | |
| එකතුව | | | |

**අවසාන ලකුණු**

| | |
|---|---|
| ඉලක්කමෙන් | |
| අකුරෙන් | |

| | |
|---|---|
| උත්තර පත්‍ර පරීක්ෂක | |
| ලකුණු පරීක්ෂා කළේ | |

[ 2 වැනි පිටුව බලන්න.

## I කොටස

● අංක **1** සිට **10** තෙක් එක් එක් පේළියේ **නිවැරදි අක්ෂර වින්‍යාසය** සහිත **යෙදුම** තෝරා, එයට අයත් **අංකය** ප්‍රශ්නය ඉදිරියේ දී ඇති **තිත් ඉර මත** ලියන්න.

1. (1) කදම්භය (2) ප්‍රධානය (3) දෘශ්‍ය කාව්‍ය (4) නෂ්ටාවශේෂ (.........)
2. (1) කාර්‍ය සාධක (2) පුස්ථකාලය (3) වර්තමාන (4) පරිශිෂ්ඨය (.........)
3. (1) උද්ධමනය (2) ලේඛණය (3) උච්ඡාරණය (4) උත්කර්ශය (.........)
4. (1) කර්තිකාව (2) ක්‍රීඩාංගණය (3) කුම්බස්ථල (4) මර්ධනය (.........)
5. (1) ගණකාධිකරණය (2) පරිසණකය (3) ගුරුමුෂ්ඨිය (4) ගෝෂාක්ෂර (.........)
6. (1) චරිතාපධානය (2) චිත්තාකර්ෂනීය (3) ජනශ්‍රැතිය (4) චන්දය (.........)
7. (1) තුෂ්ණීම්භූත (2) ජාතිභ්‍රෂ්ඨයා (3) ඥාණාන්විත (4) තපෝවෘද්ධ (.........)
8. (1) ත්‍රිකෝනය (2) සමස්ථ (3) දර්පන තලය (4) නම්නීකරණය (.........)
9. (1) නිරුපදෲත (2) පරිවර්තනය (3) පතිවෲතය (4) නීත්‍යානුකුල (.........)
10. (1) පිත්‍රෑසාතක (2) පුනරාවර්ථන (3) ප්‍රතීකාරය (4) අධ්‍යතන (.........)

*(ලකුණු 10 යි)*

● අංක **11** සිට **20** තෙක් එක් එක් පේළියේ **නොගැළපෙන පදය** තෝරා, එයට අයත් **අංකය** ප්‍රශ්නය ඉදිරියේ දී ඇති **තිත් ඉර මත** ලියන්න.

11. (1) ප්‍රවාහය (2) සමුද්‍රය (3) ජලනිධි (4) සිලිලාර (.........)
12. (1) තරිඳු (2) නිසයුරු (3) උළිඳු (4) තුඹමිණී (.........)
13. (1) උදක (2) ජලාශ (3) පැන් (4) වාරි (.........)
14. (1) තිසුලවි (2) වජිරපාණී (3) පුරඳර (4) සහසැස් (.........)
15. (1) ආබාධිත (2) ග්ලාන (3) රෝ (4) අබලන් (.........)
16. (1) මාගම (2) ලිය (3) සුබැසි (4) මියුලැසි (.........)
17. (1) ලැහැබ (2) අටවි (3) අරණ්‍ය (4) රන් (.........)
18. (1) ඇතින්න (2) නාලිය (3) කුඤ්ජර (4) කෙණෙර (.........)
19. (1) සකුණ (2) සරණවි (3) විහඟ (4) සියොත් (.........)
20. (1) මනයොනා (2) සමර (3) තුනුවහ (4) කුසුමබාණ (.........)

*(ලකුණු 10 යි)*

[ 3 වැනි පිටුව බලන්න.

- අංක **21** සිට **30** තෙක් එක් එක් පේළියේ **විරුද්ධාර්ථ පදය** ප්‍රශ්නය ඉදිරියේ දී ඇති **තිත් ඉර මත** ලියන්න.

21. අගණ්‍ය (.........................)

22. අධ්‍යයන (.........................)

23. ආරෝහණ (.........................)

24. ඉෂ්ටාර්ථය (.........................)

25. ඓහලෞකික (.........................)

26. කනිෂ්ඨ (.........................)

27. අන්වර්ථ (.........................)

28. අනුලෝම (.........................)

29. කෘත්‍රිම (.........................)

30. ජනශුන්‍ය (.........................)

*(ලකුණු 10 යි)*

- අංක **31** සිට **35** තෙක් එක් එක් ප්‍රශ්නයේ පද සමූහයට ගැළපෙන **තනි පදය** ප්‍රශ්නය ඉදිරියේ දී ඇති **තිත් ඉර මත** ලියන්න.

31. චිත්‍ර ආදිය අඳින ලද වස්ත්‍රය (.........................)

32. දකුණටත් බටහිරටත් අතර වූ අනු දිශාව (.........................)

33. උසස් අයගේ කීර්තිය වර්ණනා කරන්නා (.........................)

34. ග්‍රන්ථයක තේරුම් ගැනීමට දුෂ්කර ගැටලුසු තැන් (.........................)

35. දීර්ඝ කාලයක් මුළුල්ලෙහි පැවතීම (.........................)

*(ලකුණු 05 යි)*

- අංක **36** සිට **40** තෙක් එක් එක් ප්‍රශ්නයේ හිස්තැනට ගැළපෙන වචනය වරහන් තුළින් තෝරා **තිත් ඉර මත** ලියන්න.

36. අනුන්ගේ දියුණුවට අකුල් ........................................................ කවුරු ද? (හෙළන්නන් / හෙළන්නෝ)

37. රජයේ කාර්යාලයක ........................................ වන මගේ මල්ලී දක්ෂ ක්‍රීඩකයෙකි. (ලිපිකරුවෙකු / ලිපිකරුවෙක්)

38. කඳු තරණයට ගිය ........................................ බෙහෙවින් විඩාවට පත්ව ඇත. (තරුණයෝ / තරුණයන්)

39. මාමා හෝ නැන්දා හෝ මම හෝ පාසලේ ශ්‍රමදානයට සහභාගි ........................................................ (වේ / වෙමි)

40. ........................................................ පැමිණ ගමවැසියන්ගේ වස්තුව පැහැර ගත්හ යි පුවත්පත්වල පළ වී තිබිණ. (ආක්‍රමණිකයන් / ආක්‍රමණිකයෝ)

*(ලකුණු 05 යි)*

● අංක **41** සිට **45** තෙක් ප්‍රශ්නවල එක් එක් යෙදුමට ගැළපෙන **ප්‍රස්තාව පිරුළ තිත් ඉර මත** ලියන්න.

41. කෙනෙකුගේ මග අහුරා ශක්තිය දුර්වල කොට කළ නොහැකි දේ කිරීමට කීම

..............................................................................................................

42. ලාභ ප්‍රයෝජන ලබා දෙන තැනැත්තාටම විපත් සිදු කිරීම

..............................................................................................................

43. යමක් කළයුතු මාර්ගය පවතිද්දී වෙනත් ක්‍රම අනුගමනය කරමින් කරදරයට පත්වීම

..............................................................................................................

44. තමන් සතු දේ අනුන්ට දී වෙනත් ක්‍රමයකින් ලබා ගන්නට තැත් කිරීම

..............................................................................................................

45. කෙනෙකුගේ අය මාර්ග සම්පූර්ණයෙන්ම අහුරා ගැනීම

..............................................................................................................

*(ලකුණු 10 යි)*

## II කොටස

1. පහත දැක්වෙන පාඨය කියවා එයට යටින් දී ඇති එක් එක් ප්‍රකාශය නිවැරදි නම් **'ඔව්'** යන්න ද වැරදි නම් **'නැත'** යන්න ද **පමණක්** එම ප්‍රකාශයට ඉදිරියෙන් දී ඇති **තිත් ඉර මත** ලියන්න.

ශ්‍රී ලංකාවේ දැනට පවත්නා පොදු ප්‍රවාහන ක්‍රමය ප්‍රමාණාත්මක වශයෙන් මෙන්ම ගුණාත්මක වශයෙන් ද, ප්‍රවාහනය සඳහා ඇතිවන ඉල්ලුම සපුරාලීමට ප්‍රමාණවත් නොවන අතර, මහජනයා මිල අධික අකාර්යක්ෂම පෞද්ගලික ප්‍රවාහන මාධ්‍යයන් වෙත යොමුවීමට ද හේතු වී ඇත. ප්‍රවාහන ජාලය රටක ආර්ථික සංවර්ධනයට උපකාරී විය යුතු අතර, නගරවල වැඩිවන ජනගහනයට නගර, උප නගර හා ග්‍රාමීය ප්‍රදේශ අතර සංචලනය සඳහා ඉහළ යන ඉල්ලුම සපුරාලීමට හැකිවිය යුතුය. පොදු ප්‍රවාහනයේ පවතින අකාර්යක්ෂමතාව, මගීන් අඩු ප්‍රමාණයක් සහිතව ධාවනය වන වාහන විශාල ප්‍රමාණයක් පැවතීමට හේතු වී ඇති අතර, එය මාර්ග තදබදය ඇතිවීමටත්, කුටුම්බ මෙන්ම සමස්ත ආර්ථිකය ඉන්ධන සඳහා දරන වියදම් ඉහළ යාමටත්, ඵලදායී මිනිස් පැය විශාල වශයෙන් අපතේ යාමටත් හේතු වී ඇත. රජය, මාර්ග සංවර්ධනය කිරීම සහ බස් රථ ඇණිය වැඩි දියුණු කිරීම ඇතුළු ප්‍රවාහන යටිතල පහසුකම් දියුණු කිරීම සඳහා ඉතා විශාල ආයෝජනයක් දරා ඇති නමුදු, ගුණාත්මක සහ විශ්වසනීය ප්‍රවාහන ක්‍රම වැඩිදියුණු කිරීමට කටයුතු කළ යුතුව ඇත. මුල් අවස්ථාවේ දී කෙටි දුර සඳහා වාණිජ කටයුතු කෙරෙන ප්‍රදේශ, තදාසන්න ප්‍රදේශ සමඟ සම්බන්ධ කිරීමට තනි පීල්ලේ දුම්රිය හඳුන්වාදීම, නාගරික ප්‍රදේශවල පවතින දැඩි මාර්ග තදබදයට යෝග්‍ය විසඳුමක් වනු ඇත. එසේම පැහැදිලිව ලකුණු කළ පාපැදි තීරු සහ මෑතකදී අලුත්වැඩියා කරන ලද ඇළ මාර්ග ද, පොදු ප්‍රවාහනය සඳහා යොදා ගැනීම මාර්ග තදබදය යම්තාක් දුරකට අඩු කිරීමට හේතු වනු ඇත.

(i) මගීන් අඩු ප්‍රමාණයක් සහිත ව ධාවනය වන වාහන විශාල සංඛ්‍යාවක් පැවතීම නිසා සිදු වන්නේ කුටුම්බ මෙන්ම සමස්ත ආර්ථිකය ද, ඉන්ධන සඳහා දරන වියදම් ද ඉහළයාම පමණකි. (..................)

(ii) රජය විසින් ඉතා විශාල ආයෝජනයක් දැරූ ප්‍රවාහන යටිතල පහසුකම් දියුණු කිරීමට අදාළ එක් අංශයක් වනුයේ බස්රථ ඇණිය වැඩි දියුණු කිරීමයි. (..................)

(iii) ගුණාත්මක වූත් විශ්වසනීය වූත් ප්‍රවාහන ක්‍රම නොපැවතීම සහ මාර්ග තදබදය අතර පවතින්නේ ප්‍රතිකූල සම්බන්ධයකි. (..................)

(iv) පොදු ප්‍රවාහනයේ පවතින අකාර්යක්ෂමතාව නිසා ඇති විය හැකි ප්‍රතිඵල තුනක් මෙහි ඇතුළත් වේ. (..................)

(v) නගර, උපනගර හා ග්‍රාමීය ප්‍රදේශ අතර සංචලනය සඳහා ඉහළ යන ඉල්ලුම සපුරාලීම රටක ප්‍රවාහන ජාලයෙන් අපේක්ෂිත එක් අවස්ථාවක් පමණකි. (..................)

[ 5 වැනි පිටුව බලන්න.

(vi) මාර්ග තදබදය තවදුරටත් පවතින්නේ ප්‍රමාණවත් පරිදි මාර්ග සංවර්ධනය වී නොමැති නිසා ය. (.................)

(vii) පෞද්ගලික ප්‍රවාහන මාධ්‍යවල පවත්නා ලක්ෂණ දෙකක් මෙහි දැක්වේ. (.................)

(viii) ප්‍රවාහන ඉල්ලුම සපුරාලීම සඳහා ගුණාත්මක වශයෙන් ප්‍රමාණවත් නොවීම ශ්‍රී ලංකාවේ වර්තමාන ප්‍රවාහන ක්‍රමයේ පවත්නා එකම දුර්වලතාවයි. (.................)

*(ලකුණු 24 යි)*

2. පහත දැක්වෙන මාතෘකා අතුරින් ඔබ කැමති **එක්** මාතෘකාවක් යටතේ වචන **250** කට නොවැඩි විශ්ලේෂණාත්මක රචනයක් ලියන්න.

(i) ඉඩම් හා පොලිස් බලතල පළාත් සභාවලට පැවරීමේ යෝග්‍යතාව

(ii) ළමා අපචාර හා කාන්තා හිංසනය ශ්‍රී ලංකාවෙන් තුරන් කිරීම

(iii) සෞඛ්‍යය හා පාරිසරික සුරක්ෂිතතාව ගැන නොසලකා කෙරෙන කාර්මිකීකරණයේ ප්‍රතිවිපාක

(iv) වාණිජකරණය හා සමාජ නවීකරණය නිසා පිරිහී යන පාරම්පරික සාරධර්ම

........................................................................................................................................

........................................................................................................................................

........................................................................................................................................

........................................................................................................................................

........................................................................................................................................

........................................................................................................................................

........................................................................................................................................

........................................................................................................................................

........................................................................................................................................

........................................................................................................................................

........................................................................................................................................

........................................................................................................................................

........................................................................................................................................

........................................................................................................................................

........................................................................................................................................

........................................................................................................................................

........................................................................................................................................

........................................................................................................................................

........................................................................................................................................

........................................................................................................................................

........................................................................................................................................

........................................................................................................................................

........................................................................................................................................

[ 6 වැනි පිටුව බලන්න.

8599



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

පළාත් රාජ්‍ය කළමනාකරණ සහකාර සේවයේ III වැනි පන්තියට
බඳවා ගැනීමේ විවෘත තරග විභාගය - 2013
(උතුරු මැද / සබරගමුව)

## (02) අභියෝග්‍යතාව

පැ. එකයි

### විභාග අපේක්ෂකයින්ට උපදෙස්

**ඉතා වැදගත් :**

**පිළිතුරු ලිවීම සඳහා පැන්සල භාවිත නොකරන්න.**



※ ***පිළිතුරු සැපයීමේ දී පහත සඳහන් ආකාරයට ඉලක්කම් ලියා නැති උත්තර පත්‍ර ඇගයීමට ලක් නොකෙරේ.***

**1 2 3 4**

ඔබේ විභාග අංකය මෙහි ද තුන්වන පිටුවෙහි ඇති තිත් ඉර මත ද ලියන්න.

......................................

නිවැරදි බවට නිරීක්ෂකගේ කෙටි අත්සන

......................................

වැදගත් :

※ මෙම ප්‍රශ්න පත්‍රය පිටු ***08*** කින් හා ප්‍රශ්න ***50*** කින් යුක්ත වේ.

※ පිළිතුරු ලිවීමට පෙර ප්‍රශ්න පත්‍රය පිටු අංක අනුව සකසා ගන්න.

※ ප්‍රශ්න **සියල්ලට ම** පිළිතුරු **මෙම පත්‍රයේ ම** සපයන්න.

※ මෙම ප්‍රශ්න පත්‍රයට නියමිත කාලය **පැය එකකි.**

※ ශාලාධිපතිවරයා නිවේදනය කළ පසු පිළිතුරු ලිවීම ආරම්භ කරන්න.

※ ***දී ඇති උපදෙස් අනුව ම ප්‍රශ්නවලට පිළිතුරු සැපයිය යුතු වන අතර උපදෙස්වලට පටහැනිව සපයන පිළිතුරු සඳහා ලකුණු දෙනු නොලැබේ.***

※ ***ගණක යන්ත්‍ර භාවිතයට ඉඩ දෙනු නොලැබේ.***

※ ඔබට සැපයීමට පිළිතුරු නැතත් මෙම පිළිතුරු පත ශාලාධිපතිට භාර දිය යුතුය.

※ ඔබේ පිළිතුරු පැහැදිලි ලෙස **නිල්** හෝ **කළු** පෑනෙන් පමණක් ලියන්න. ***පැන්සල් පාවිච්චි නොකරන්න.***

※ මෙම ප්‍රශ්න පත්‍රය විභාග ශාලාවෙන් පිටතට ගෙන යාම හෝ එහි ඡායා පිටපත් ගැනීම හෝ වරදකි.

※ ***අපැහැදිලි ඉලක්කම්, අපැහැදිලි අත් අකුරු, මකන දියර භාවිත කරන ලද හා පැන්සලෙන් පිළිතුරු සපයන ලද පිළිතුරු පත්‍ර ඇගයීමට ලක් නොකෙරේ.***

පරීක්ෂකගේ ප්‍රයෝජනය සඳහා පමණි

| පිටුව | ප්‍රශ්න අංකය | ලැබූ ලකුණු |
|---|---|---|
| 2 | 1 - 10 | |
| 3 | 11 - 20 | |
| 4 | 21 - 25 | |
| 5 | 26 - 32 | |
| 6 | 33 - 40 | |
| 7 | 41 - 46 | |
| 8 | 47 - 50 | |
| එකතුව | | |

අවසාන ලකුණු

| | |
|---|---|
| ඉලක්කමෙන් | |
| අකුරින් | |

| | |
|---|---|
| උත්තර පත්‍ර පරීක්ෂක | |
| ලකුණු පරීක්ෂා කළේ | |

[ 2 වැනි පිටුව බලන්න.

● අංක **1** සිට **5** තෙක් එක් එක් ප්‍රශ්නය යටතේ පද හතරක් බැගින් දී ඇත. ඒවා අතුරින් පද තුනක් කිසියම් ලක්ෂණයකට අනුව සමාන සම්බන්ධතාවක් පෙන්නුම් කරයි. එසේ **නොවන** ඉතිරි පදය තෝරා, ඊට අදාළ වරණයෙහි **අංකය** ප්‍රශ්නය ඉදිරියේ දී ඇති **තිත් ඉර මත** ලියන්න.

1. (1) සංස්කරණය (2) අනුවාදය (3) පරිවර්තනය (4) විචාරය (.........)

2. (1) සමීක්ෂණය (2) නිරීක්ෂණය (3) පරීක්ෂණය (4) විමර්ශනය (.........)

3. (1) ශ්‍රාවකයා (2) පාඨකයා (3) අනුගාමිකයා (4) රසිකයා (.........)

4. (1) විස්තීරණය (2) විභේදනය (3) ප්‍රසාරණය (4) විහිදීම (.........)

5. (1) සංගෘහිත (2) සම්පිඩිත (3) සංකලිත (4) සමෝධානිත (.........)

● අංක **6** සිට **10** තෙක් එක් එක් ප්‍රශ්නය යටතේ කිසියම් සංඛ්‍යා පේළියක් බැගින් දී ඇත. එම එක් එක් සංඛ්‍යා පේළියෙන් එක් සංඛ්‍යාවක් බැගින් ඉවත් කළහොත් ඒ ඒ පේළියේ ඉතිරිවන සංඛ්‍යා සියල්ල සරල සංඛ්‍යා රටාවකට අනුව පිහිටයි. එසේ වීම සඳහා ඒ ඒ සංඛ්‍යා පේළියෙන් ඉවත් කළයුතු සංඛ්‍යාව තෝරා, ඊට අදාළ වරණයෙහි **අංකය** ප්‍රශ්නය ඉදිරියේ දී ඇති **තිත් ඉර මත** ලියන්න.

6. 1, 2, 5, 10, 17, 21, 26
(1) 1 (2) 5 (3) 17 (4) 21 (.........)

7. 0, 5, 10, 15, 30, 50, 75
(1) 5 (2) 10 (3) 15 (4) 30 (.........)

8. 2, 2, 4, 12, 48, 120, 240
(1) 4 (2) 12 (3) 120 (4) 240 (.........)

9. 0, 2, 6, 14, 30, 62, 124
(1) 14 (2) 30 (3) 62 (4) 124 (.........)

10. 2, 4, 8, 18, 32, 50, 72
(1) 4 (2) 18 (3) 50 (4) 72 (.........)

● අංක **11** සිට **15** තෙක් ප්‍රශ්න, එක්තරා රාක්කයක් තුළ මාසික වාර්තා සමූහයක් අසුරා ඇති ආකාරය සම්බන්ධයෙන් වන පහත තොරතුරු මත පදනම් වේ.

✤ පිළිවෙළින් පහළ තට්ටුව, දෙවන තට්ටුව, තෙවන තට්ටුව සහ ඉහළ තට්ටුව වශයෙන් තට්ටු හතරකින් සමන්විත රාක්කයක කිසියම් වසරක මාස දොළහටම අයත් මාසික වාර්තා මුලින් අසුරා තිබුණේ පහත දැක්වෙන කොන්දේසිවලට අනුකූලවන පරිදි වේ.

※ තෙවන තට්ටුවෙහි අසුරා ඇති වාර්තා අයත් මාස සංඛ්‍යාව, දෙවන තට්ටුවෙහි අසුරා ඇති වාර්තා අයත් මාස සංඛ්‍යාව මෙන් දෙගුණයකි.

※ පහළම තට්ටුවේ සහ ඉහළම තට්ටුවේ අසුරා ඇති වාර්තා අයත් මාස සංඛ්‍යා එකිනෙකට සමාන වේ.

※ ඕනෑම තට්ටු දෙකක් සැලකුවිට ඒවා අතුරින් ඉහළින් පිහිටි තට්ටුවේ අසුරා ඇති වාර්තාවලට වඩා පැරණි වාර්තා පහළින් පිහිටි තට්ටුවෙහි අසුරා ඇත.

✤ දෙවනුව, තට්ටු දෙකක් අතුරින් පහළින් පිහිටි තට්ටුවෙහි වඩා පැරණි වාර්තා අසුරා තිබීමේ කොන්දේසිය රැකෙන පරිදි කිසියම් මාස තුනකට අයත් වාර්තා වෙනත් තට්ටුවලට මාරු කරන ලද අතර, එමගින් එක් තට්ටුවක් හිස් කර ඉතිරි තට්ටුවල එක් එක් තට්ටුවෙහි මාස හතරකට අයත් වාර්තා තිබෙන සේ සකස් කරන ලදී.

✤ මෙම අවස්ථා දෙකේදීම ඕනෑම එක් මාසයකට අයත් සියලුම වාර්තා එකම තට්ටුවක පමණක් තිබෙන පරිදි අසුරා ඇත.

මෙම තොරතුරුවලට අනුව පහත එක් එක් ප්‍රශ්නයට නිවැරදි පිළිතුර තෝරා, ඊට අදළ වරණයෙහි **අංකය** ප්‍රශ්නය ඉදිරියේ දී ඇති **තිත් ඉර මත** ලියන්න.

[ 3 වැනි පිටුව බලන්න.

11. වාර්තා මුලින් අසුරා තිබූ අවස්ථාවේ දී තට්ටු දෙකකට අයත් වාර්තා සියල්ලම පරිශීලනය කළ නිමල්, පරිශීලනය කර තිබුණේ අනුයාත මාස හයකට අයත් වාර්තා පමණකි. එම වාර්තා අසුරා තිබූ තට්ටු දෙක මොනවා ද?
(1) පහළ තට්ටුව, දෙවන තට්ටුව
(2) දෙවන තට්ටුව, තෙවන තට්ටුව
(3) තෙවන තට්ටුව, ඉහළ තට්ටුව
(4) පහළ තට්ටුව, ඉහළ තට්ටුව
(.........)

12. මුල් අවස්ථාවේ දී අසුරා තිබූ වාර්තාවලින් කිසියම් මාසයකට අයත් වාර්තා සියල්ල ගෙන ඒවා වෙනත් තට්ටුවක තබනු ලැබුවහොත්, අවුරුද්දේ කාර්තු හතරේ වාර්තා සඳහා තට්ටු හතර වෙන් කර ඇති ආකාරයට සකස් කළ හැකි වේ. ඒ සඳහා කුමන මාසයට අයත් වාර්තා කුමන තට්ටුවෙන් තැබිය යුතු ද?
(1) මාර්තු - දෙවන තට්ටුවෙහි
(2) මැයි - තුන්වන තට්ටුවෙහි
(3) සැප්තැම්බර් - තුන්වන තට්ටුවෙහි
(4) ජුනි - දෙවන තට්ටුවෙහි
(.........)

13. දෙවන අවස්ථාවේ දී එක් එක් තට්ටුවේ මාස හතරකට අයත් වාර්තා තිබෙන සේ සකස් කිරීම සඳහා හිස් කරන ලද තට්ටුව කුමක් ද?
(1) පහළ තට්ටුව (2) දෙවන තට්ටුව (3) තෙවන තට්ටුව (4) ඉහළ තට්ටුව (.........)

14. දෙවන අවස්ථාවේ දී පහළ තට්ටුවක් වෙත මාරු කිරීමට සිදු වන්නට ඇත්තේ කුමන මාසයට අයත් වාර්තා ද?
(1) අප්‍රේල් (2) මැයි (3) ජුනි (4) සැප්තැම්බර් (.........)

15. පහත සඳහන් කුමන මාසයට අයත් වාර්තා දෙවන අවස්ථාවේ දී වෙනත් තට්ටුවකට මාරු කිරීමට සිදුවන්නට ඇත්ද?
(1) ජුනි (2) ජූලි (3) අගෝස්තු (4) සැප්තැම්බර් (.........)

● අංක **16** සිට **20** තෙක් ප්‍රශ්න, පහත දැක්වෙන කොටු ජාලය හා ඒ සම්බන්ධයෙන් වන තොරතුරු මත පදනම් වේ.

| | | | | | | |
|---|---|---|---|---|---|---|
| *C* | 1 | 3 | 6 | 10 | 15 | *D* |
| | 15 | | | | 32 | |
| | | 45 | | 45 | | |
| | | | *E* | | | |
| | | 77 | | 90 | | |
| | 96 | | | | 105 | |
| *B* | 120 | 123 | 126 | 129 | 132 | *A* |

※ එකිනෙකට යාබදව එක පෙළට කොටු 7 ක් බැගින් වන සේ පිහිටන කොටු පේළි 4 ක් වම්පස කොටු ජාලයෙහි දක්වා ඇත.

※ එම එක් එක් කොටු පේළියට අයත් කොටු 7 හි සඳහන් සංඛ්‍යා, කිසියම් සංඛ්‍යා රටා අනුපිළිවෙළකට අනුව පෙළගස්වා ඇත.

※ ඒ අනුව ***A, B, C, D*** හා ***E*** යන ඉංග්‍රීසි අක්ෂර මගින් ද එම එක් එක් සංඛ්‍යා රටාවට අයත් වන කිසියම් සංඛ්‍යාවක් බැගින් නියෝජනය කෙරේ.

මෙම තොරතුරුවලට අනුව පහත එක් එක් ප්‍රශ්නයට නිවැරදි පිළිතුර තෝරා, ඊට අදාළ වරණයෙහි **අංකය** ප්‍රශ්නය ඉදිරියේ දී ඇති **තිත් ඉර මත** ලියන්න.

16. ***A*** මගින් නියෝජනය කෙරෙන සංඛ්‍යාව කුමක් ද?
(1) 117 (2) 130 (3) 135 (4) 140 (.........)

17. ***B*** මගින් නියෝජනය කෙරෙන සංඛ්‍යාව කුමක් ද?
(1) 112 (2) 115 (3) 116 (4) 117 (.........)

18. ***C*** මගින් නියෝජනය කෙරෙන සංඛ්‍යාව කුමක් ද?
(1) 0 (2) 0.3 (3) 1/3 (4) 0.5 (.........)

19. ***D*** මගින් නියෝජනය කෙරෙන සංඛ්‍යාව කුමක් ද?
(1) 20 (2) 21 (3) 24 (4) 30 (.........)

20. ***E*** මගින් නියෝජනය කෙරෙන සංඛ්‍යාව කුමක් ද?
(1) 60 (2) 61 (3) 65 (4) 66 (.........)

[ 4 වැනි පිටුව බලන්න.

● අංක **21** සිට **25** තෙක් එක් එක් ප්‍රශ්නයට නිවැරදි පිළිතුර තෝරා, ඊට අදාළ වරණයෙහි **අංකය** ප්‍රශ්නය ඉදිරියේ දී ඇති **තිත් ඉර මත** ලියන්න.

21. පොතක් මිලට ගැනීමේ දී 15%ක වට්ටමක් ලබා ගැනීම හෝ පොතෙහි මිලෙන් 20%ක් වටිනා එහි සංගත තැටියක් නොමිලේ ලබා ගැනීම හෝ යන අවස්ථා දෙකෙන් එකක් පමණක් තෝරා ගත හැකිය. මින් පළමු අවස්ථාව තෝරා ගෙන පොතක් මිලදී ගත් පුද්ගලයකු සංගත තැටියක් ද වෙනම මිලට ගත් අතර ඒ සඳහා ඔහුට වියදම් වූ මුළු මුදල රු. 210ක් විය. පොතෙහි මිල කීයද?

(1) රු. 170 (2) රු. 200 (3) රු. 210 (4) රු. 240 (.........)

22. වීඩියෝ පටි කුලියට දෙනු ලබන ස්ථානයක් මගින් එම වීඩියෝ පටි නැවත ආපසු භාරදීමේදී තම සාමාජිකයින්ගෙන් සිදුවන ප්‍රමාදවීම් සඳහා පහත සඳහන් පරිදි දඩ මුදල් අය කරනු ලැබේ.

※ ප්‍රමාද වන පළමු දින තුන සඳහා දිනකට රු. 10ක් බැගින් අය කෙරේ.

※ දින තුනකට වැඩි හා දින අටකට අඩු කාලයක් ප්‍රමාද වන්නේ නම්, මුල් දින තුනම වෙනුවෙන් රු. 50ක් සහ ඊට වැඩිවන සෑම දිනයක් සඳහාම රු. 25ක් බැගින් අය කෙරේ.

※ දින හතකට වැඩි ප්‍රමාදවීමක් සඳහා සාමාජිකත්වය අවලංගු කර වීඩියෝ පටියේ වටිනාකම අයකර ගනු ලැබේ.

එක්තරා සාමාජිකයකු විසින් අඟහරුවාදා භාරදුන් වීඩියෝ පටියක් වෙනුවෙන් රු. 150ක දඩ මුදලක් ගෙවීමට සිදුවුණි නම්, එම වීඩියෝ පටිය ඊට පෙර බ්‍රහස්පතින්දා භාර දුනහොත් ඔහුට ගෙවීමට සිදුවන දඩ මුදල කීයද?

(1) රු. 20 (2) රු. 30 (3) රු. 50 (4) රු. 75 (.........)

23. එකමත එක තබා ඇති ලිපිගොනු ගොඩක ඉහළ සිට 7වැනි ස්ථානයෙහි ඇති ගොනුවත්, පහළ සිට 9වැනි ස්ථානයෙහි ඇති ගොනුවත් අතර වෙනත් ගොනු නොමැත. එම ගොනු දෙක අතර තවත් ගොනුවක් තැබූ විට ඉහත විස්තර කළ ඒ ඒ ගොනුවට හිමි ස්ථානයෙහි වෙනසක් සිදු විය. අවසාන ගොඩෙහි ගොනු කීයක් තිබේ ද?

(1) 14 (2) 15 (3) 16 (4) 17 (.........)

24. දී ඇති අනෙක් කිසිදු පදයක නොමැති අකුරක් සහිත සහ අනෙක් සෑම පදයකම අන්තර්ගතව ඇති කිසියම් අකුරක් රහිත පදය මින් කුමක් ද?

(1) සවනත (2) වනයම (3) යහනට (4) සයනක (.........)

25. අඹ, දොඩම්, පේර, ජම්බු, රඹුටන් සහ වෙරළු යන පළතුරු පහත සඳහන් පරිදි මලුවල ඇසිරිය යුතුව ඇත.

※ අඹ නොමැති සෑම මල්ලකම දොඩම් තිබිය යුතු අතර දොඩම් නොමැති සෑම මල්ලකම අඹ තිබිය යුතුවේ.

※ පේර සහ වෙරළු එකම මල්ලක තිබිය නොහැකි අතර ජම්බු ඇති මල්ලේ අඹ හෝ පේර හෝ තිබිය නොහැකි වේ.

※ රඹුටන් ඇති මල්ලේ දොඩම් සහ වෙරළු තිබිය නොහැකි වේ.

මෙම පළතුරු ඇසිරීමට අවශ්‍ය **අවම** මලු සංඛ්‍යාව කීයද?

(1) 2 (2) 3 (3) 5 (4) 6 (.........)

● අංක **26** සිට **30** තෙක් ප්‍රශ්න, එක්තරා කාර්යාලයකින්, කාර්යාල උපකරණ වර්ග කිහිපයක් බැහැර ගෙනයාමට අවශ්‍ය වූ පුද්ගලයන් සිව්දෙනෙකු සම්බන්ධයෙන් වන පහත තොරතුරු මත පදනම් වේ.

※ රාජා, සමන්, දීපානි සහ මාලනී යන සිව්දෙනා හට එක් කාර්යාල උපකරණයක් බැගින් බැහැර ගෙනයාමට අවශ්‍ය විණි.

※ මේ ආකාරයට ඔවුන් හට බැහැර ගෙනයාමට අවශ්‍ය වූයේ අනුපිළිවෙළින් තොරව *A*, *B*, *C* හා *D* නමැති කාර්යාල උපකරණ වර්ග වේ.

※ මේවා අතුරින් කාර්යාලයෙහි තිබූ එක් වර්ගයකට අයත් උපකරණ සියල්ල ඒ වන විටත් බැහැර ගෙන ගොස් තිබිණි. එම වර්ගය අවශ්‍ය වූයේ කාන්තාවකට නොවේ.

※ *A* හා *B* හැර කාර්යාලයෙහි ඇති අනෙකුත් සියලුම වර්ගවල උපකරණ බැහැර ගෙනයාමට අවසර තිබේ.

※ රාජාට අවශ්‍ය වූ උපකරණ වර්ගයෙන් කාර්යාලය සතුව තිබූ සියලුම උපකරණ අනෙකුත් සාමාජිකයින් විසින් බැහැර ගෙන ගොස් තිබිණි.

※ උපකරණයක් බැහැර ගෙනයාමට හැකි වූයේ *D* වර්ගයේ උපකරණයක් අවශ්‍ය වූ පුද්ගලයාට පමණි. නමුත් ඒ දීපානි නොවේ.

※ *A* වර්ගයේ උපකරණ බැහැර ගෙනයාමට අවශ්‍ය වූ තැනැත්තා පිරිමියෙකි.

මෙම තොරතුරුවලට අනුව පහත එක් එක් ප්‍රශ්නයට නිවැරදි පිළිතුර තෝරා, ඊට අදාළ වරණයෙහි **අංකය** ප්‍රශ්නය ඉදිරියේ දී ඇති **තිත් ඉර මත** ලියන්න.

26. *C* වර්ගයේ කාර්යාල උපකරණයක් බැහැර ගෙනයාමට අවශ්‍ය වූ පුද්ගලයා කවුද?
(1) සමන් (2) දීපානි (3) රාජා (4) මාලනී (.........)

27. සමන්ට බැහැර ගෙනයාමට අවශ්‍ය වූ කාර්යාල උපකරණය සම්බන්ධයෙන් නිවැරදි ප්‍රකාශය මින් කුමක් ද?
(1) එම උපකරණ වර්ගය කාර්යාලයෙහි නැත.
(2) එම උපකරණ වර්ගය කාර්යාලයෙහි ඇතත් බැහැර ගෙන යාමට නොහැකිය.
(3) එම වර්ගයට අයත් උපකරණ සියල්ල අනෙකුත් සාමාජිකයින් විසින් බැහැර ගෙන ගොස් ඇත.
(4) එම උපකරණය සමන්ට බැහැර ගෙනයාමට හැකි විය. (.........)

28. තමන්ට අවශ්‍ය වූ උපකරණයක් බැහැර ගෙනයාමට හැකි වූයේ කාට ද?
(1) සමන් (2) දීපානි (3) රාජා (4) මාලනී (.........)

29. කාර්යාලයෙන් බැහැර ගෙනයාමට අවසර නොමැති උපකරණ වර්ග බැහැර ගෙනයාමට අවශ්‍ය වූ පුද්ගලයන් කවරහු ද?
(1) දීපානි හා මාලනී (2) සමන් හා දීපානි (3) මාලනී හා සමන් (4) රාජා හා දීපානි (.........)

30. එක් එක් පුද්ගලයාගේ නමට ඉදිරියෙන් ඔහුට/ඇයට බැහැර ගෙනයාමට අවශ්‍ය වූ උපකරණ වර්ගය නිවැරදිව දක්වා ඇත්තේ පහත කවරක ද?
(1) සමන් - *A* (2) මාලනී - *B* (3) දීපානි - *C* (4) රාජා - *D* (.........)

● අංක **31** සිට **35** තෙක් ප්‍රශ්න, එක්තරා ලිපිගොනු හයක අන්තර්ගත විෂය ක්ෂෙත්‍ර හා එම ගොනු භාර ලිපිකරුවන් සම්බන්ධයෙන් වන පහත තොරතුරු මත පදනම් වේ.

※ එක්තරා ලිපිගොනු හයක් භාර ලිපිකරුවන් සහ එම ගොනු අතුරින් සැලසුම්, සංවර්ධන, ආයතනික සහ මූල්‍ය යන එක් එක් විෂය ක්ෂෙත්‍රයට අයත් ලේඛන ඇතුළත් ගොනු සංඛ්‍යාව පහත වගුව මගින් ඉදිරිපත් කර ඇත.

| විෂය ක්ෂෙත්‍රය / භාර ලිපිකරු | අදාළ ක්ෂෙත්‍රයට අයත් ලේඛන ඇතුළත් ගොනු සංඛ්‍යාව | | | | මුළු ගොනු සංඛ්‍යාව |
|---|---|---|---|---|---|
| | සැලසුම් | සංවර්ධන | ආයතනික | මූල්‍ය | |
| සුගත් | 1 | 1 | 2 | 2 | 2 |
| දමයන්ති | - | 1 | 1 | 1 | 1 |
| නාලක | 2 | - | 1 | - | 2 |
| දසුන් | 1 | - | 1 | - | 1 |

※ මෙහිදී එකම ගොනුවක දී ඇති විෂය ක්ෂෙත්‍ර කිහිපයකට අයත් ලේඛන ඇතුළත් විය හැකි වේ. නමුත් ඕනෑම ලේඛනයක් අයත් වන්නේ නිශ්චිත එක් විෂය ක්ෂෙත්‍රයකට පමණි.

※ එමෙන්ම සුගත් භාරයේ ඇති එක් ගොනුවක අන්තර්ගත විෂය ක්ෂෙත්‍ර සංඛ්‍යාව, ඔහුගේ අනෙක් ගොනුවෙහි අන්තර්ගත විෂය ක්ෂෙත්‍ර සංඛ්‍යාවට සමාන නොවේ.

※ තවද මෙම ගොනු හයෙහි අන්තර්ගතව ඇත්තේ දී ඇති විෂය ක්ෂෙත්‍ර හතරට අයත්වන ලේඛන පමණි.

මෙම තොරතුරුවලට අනුව පහත එක් එක් ප්‍රශ්නයට නිවැරදි පිළිතුර තෝරා, ඊට අදාළ වරණයෙහි **අංකය** ප්‍රශ්නය ඉදිරියේ දී ඇති **තිත් ඉර මත** ලියන්න.

31. එක් විෂය ක්ෂෙත්‍රයකට අයත් ලේඛන පමණක් අන්තර්ගත වන්නේ කාගේ ගොනුවක ද?
(1) සුගත් (2) දමයන්ති (3) නාලක (4) දසුන් (.........)

32. එක්තරා ගොනු දෙකක අන්තර්ගත ලේඛන අයත් විෂය ක්ෂෙත්‍ර සංඛ්‍යා එකිනෙකට සමාන වන අතර එම විෂය ක්ෂෙත්‍ර ද එකිනෙකට සමාන වේ. එම විෂය ක්ෂෙත්‍ර මොනවා ද?
(1) ආයතනික, මූල්‍ය (2) සැලසුම්, ආයතනික
(3) සැලසුම්, ආයතනික, මූල්‍ය (4) සංවර්ධන, ආයතනික, මූල්‍ය (.........)

33. සුගත් භාරයේ ඇති එක් ලිපි ගොනුවක නොමැති විෂය ක්ෂේත්‍රයක්, දමයන්ති භාරයේ ඇති ලිපි ගොනුවෙහි ඇත. ඒ කුමන විෂය ක්ෂේත්‍රය ද?

(1) සංවර්ධන (2) ආයතනික

(3) මූල්‍ය (4) සැලසුම් (.........)

34. අන්තර්ගත විෂය ක්ෂේත්‍ර අතුරින් වඩා සමාන ගොනු දෙකක් භාර ලිපිකරුවන් දෙදෙනා කවරහු ද?

(1) සුගත් , දමයන්ති (2) දමයන්ති , නාලක

(3) නාලක , දසුන් (4) දසුන් , සුගත් (.........)

35. 'සැලසුම්' හැර වෙනත් විෂය ක්ෂේත්‍ර දෙකකට අයත් ලේඛන පමණක් අන්තර්ගත ගොනුවෙහි භාරකාරත්වය දරන ලිපිකරු කවරෙක් ද?

(1) සුගත් (2) දමයන්ති

(3) නාලක (4) දසුන් (.........)

- අංක **36** සිට **40** තෙක් ප්‍රශ්න, *A* හා *B* නමැති නගර දෙකක් අතර ධාවනය වන බස් රථ සම්බන්ධයෙන් වන පහත තොරතුරු මත පදනම් වේ.

※ *A* හා *B* නගර දෙක අතර එක් දිශාවකට මංතීරු දෙකක් බැගින් වන සේ මංතීරු හතරක සෘජු මාර්ගයක් බස්රථ ධාවනය පිණිස ඇත.

※ සෑම දිනකදීම පෙ.ව. 6.00 ට පටන් ගෙන පැයෙන් පැයට ප.ව. 6.00 තෙක් පමණක් *A* නගරයෙන් *B* නගරය වෙත බස්රථ පිටත් වේ.

※ එම පළමු බස්රථය මන්දගාමී වන අතර මන්දගාමී බස්රථ පහකට පසු එක් ශීඝ්‍රගාමී බස්රථයක් බැගින් වන සේ බස්රථ පිටත් වේ.

※ මන්දගාමී බස්රථයක් පැය 6 කින් ද ශීඝ්‍රගාමී බස්රථයක් පැය 4 කින් ද *B* වෙත ළඟා වේ.

※ සෑම දිනකදීම පෙ.ව. 6.30 ට පටන් ගෙන පැය දෙකෙන් දෙකට ප.ව. 4.30 තෙක් පමණක් *B* නගරයෙන් *A* නගරය වෙත බස්රථ පිටත් වේ.

※ *B* නගරයෙන් පිටත්වන සියලුම බස්රථ මන්දගාමී බස්රථ වන අතර ඒවාට *A* නගරය වෙත ළඟාවීමට පැය 6 ක් ගතවේ.

※ තවද එක් බස්රථයකට තවත් බස්රථයක් පසු කර යාම පිණිස කිසිදු බාධාවක් නොවන පරිදි මංතීරු සකසා ඇත.

මෙම තොරතුරුවලට අනුව පහත එක් එක් ප්‍රශ්නයට නිවැරදි පිළිතුර තෝරා, ඊට අදාළ වරණයෙහි **අංකය** ප්‍රශ්නය ඉදිරියේ දී ඇති **තිත් ඉර මත** ලියන්න.

36. *A* හා *B* නගර අතර ශීඝ්‍රගාමී බස්රථ කීයක් දිනකට ධාවනය කෙරේ ද?

(1) 1 (2) 2 (3) 3 (4) 4 (.........)

37. *A* හා *B* නගර අතර එම මාර්ගයේ දිනකට පැය කීයක් බස්රථ ධාවනය වෙමින් පවතී ද?

(1) 12 (2) 16 (3) 17 (4) 18 (.........)

38. ප.ව. 1.15 ට මෙම මාර්ගයේ බස්රථ කීයක් ධාවනය වෙමින් පවතී ද?

(1) 6 (2) 8 (3) 9 (4) 12 (.........)

39. පෙ.ව. 8.30 ට *B* වෙතින් පිටත්වන බස්රථයට *A* වෙත ළඟාවීමට පෙර බස්රථ කීයක් හමුවේ ද?

(1) 3 (2) 6 (3) 9 (4) 12 (.........)

40. පළමුව පිටත්වන ශීඝ්‍රගාමී බස්රථය ගමනාන්තයට පෙර මන්දගාමී බස්රථ කීයක් පසුකරයි ද යන්නත්, පිටත්වීමේ අනුපිළිවෙළ අනුව ඒ/ඒවා කීවෙනි බස් රථය/රථ ද යන්නත් පිළිවෙළින් දක්වා ඇත්තේ පහත කවරක ද?

(1) 1 යි, 1 වෙනි (2) 1 යි, 5 වෙනි

(3) 2 යි, 1 වෙනි සහ 2 වෙනි (4) 2 යි, 4 වෙනි හා 5 වෙනි (.........)

● අංක **41** සිට **45** තෙක් ප්‍රශ්න, පහත *A* සිට *U* දක්වා ඉංග්‍රීසි අක්ෂරවලින් නම් කරන ලද රූප හා ඒ සම්බන්ධයෙන් වන තොරතුරු මත පදනම් වේ.


*A*

*B*

*C*

*D*

*E*

*F*

*G*


*H*

*I*

*J*

*K*

*L*

*M*

*N*


*O*

*P*

*Q*

*R*

*S*

*T*

*U*

※ ඉහත දී ඇති රූප අතුරින් හයක් හැර, ඉතිරි සියලුම රූප එක් එක් කාණ්ඩයකට පොදු වූ කිසියම් ලක්ෂණයකට අනුව රූප තුනක් බැගින් ඇතුළත්වන කාණ්ඩ පහකට වෙන් කළ හැකි වේ.

※ මෙම රූප සියල්ලම හොඳින් අධ්‍යයනය කිරීමෙන් එම එක් එක් කාණ්ඩයට ඇතුළත්වන රූප තුන වෙන වෙනම හඳුනා ගත හැකි වේ.

※ පහත එක් එක් ප්‍රශ්නය යටතේ ඒ ආකාරයට වෙන් කළ හැකි කිසියම් කාණ්ඩයකට අයත් රූප දෙකකට අදාළ ඉංග්‍රීසි අක්ෂර යුගලයක් බැගින් දී ඇත.

※ ඒ අනුව එම එක් එක් කාණ්ඩයට ඇතුළත් වියයුතු ඉතිරි රූපයට අදාළ ඉංග්‍රීසි අක්ෂරය සොයා, ඒ ඒ ප්‍රශ්නය යටතේ ඇති හිස්තැන සම්පූර්ණ කළ යුතු වේ.

මෙම තොරතුරුවලට අනුව පහත එක් එක් ප්‍රශ්නයේ **?** සලකුණ සහිත ස්ථානයට යෙදෙන ඉංග්‍රීසි අක්ෂරය සොයා, එම **අක්ෂරය** ප්‍රශ්නය ඉදිරියේ දී ඇති **තිත් ඉර මත** ලියන්න.

41. *D, C,* ..?... (.........)

42. *J, E,* ..?... (.........)

43. *I, F,* ..?... (.........)

44. *G, O,* ..?... (.........)

45. *B, K,* ..?... (.........)

● අංක **46** සිට **50** තෙක් එක් එක් ප්‍රශ්නය යටතේ කිසියම් රූප කොටස් හතරක් බැගින් දී ඇත. එම රූප කොටස් හතරම හෝ කිහිපයක් හෝ භ්‍රමණය කිරීමකින් තොරව යොදා ගැනීමෙන්, ඒ ඒ ප්‍රශ්නයේ පිළිතුරු වරණ යටතේ ඉදිරිපත් කර ඇති රූප අතුරින් තුනක් සෑදිය හැකි වේ. එසේ සෑදිය **නොහැකි** රූපය තෝරා, ඊට අදාළ වරණයෙහි **අංකය** ප්‍රශ්නය ඉදිරියේ දී ඇති **තිත් ඉර මත** ලියන්න.

46.    


(1)

(2)

(3)

(4)

(.........)

47. 


(1)


(2)


(3)


(4)

(.........)

48. 


(1)


(2)


(3)


(4)

(.........)

49. 


(1)


(2)


(3)


(4)

(.........)

50. 


(1)


(2)


(3)


(4)

(.........)

* * *

